# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2014 (2015)

## (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

කාලය පැ. 3 යි.

( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.

### I කොටස

01. i. රූපස්කන්ධයට අයත් රූප සියල්ල ප්‍රධාන ප්‍රභේද දෙකකින් යුක්තය. එම ප්‍රභේද දෙක නම් කරන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

ii. දස අනුස්සතීන්ගෙන් දෙකක් නම් කරන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

iii. පංචබල ධර්මයන්ගෙන් දෙකක් දක්වන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

iv. භාවනාවේ මූලික ප්‍රභේද දෙක නම් කරන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

v. අනුලෝම - පටිලෝම යන්නෙහි වචනාර්ථ දක්වන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

vi. සත්‍ය කෙරෙහි මූලික ලක්ෂණ තුන නම් කරන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

ඉ). ........................................................................................................................

vii. සංස්කාරයන්ගේ ලක්ෂණ තුන දක්වන්න.

අ). ........................................................................................................................

ආ). ........................................................................................................................

ඉ). ........................................................................................................................

viii. බොජ්ඣංග ධර්මයන්ගෙන් හතරක් දක්වන්න.

අ). ..............................................................................................................................

ආ). ..............................................................................................................................

ඉ). ..............................................................................................................................

ඊ). ..............................................................................................................................

ix. සෘද්ධිපාද සතර නම් කරන්න.

අ). ..............................................................................................................................

ආ). ..............................................................................................................................

ඉ). ..............................................................................................................................

ඊ). ..............................................................................................................................

x. පහත සඳහන් ගාථාව සම්පූර්ණ කරන්න.

" න කහාපන වස්සෙන"

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

එම ගාථාවේ තේරුම ලියන්න.

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

..............................................................................................................................

* * *

# 2559 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2014 (2015)

## (01) ථෙරවාදි බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

**S 1**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) චතුරාර්ය සත්‍ය සම්බන්ධයෙන් අනුගමනය කළ යුතු කෘත්‍ය සතර නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) දුක්ඛාර්ය සත්‍යයෙහි විස්තර වන දුක තුන් ආකාරයකින් විමසා බැලීමට පුළුවන. ඒවා නම් කර, කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(iii) 'දුකට හේතුව තණ්හාව බවත් තණ්හාව නැති කිරීමෙන් දුක නැති කළ හැකි බවත් බුද්ධ දේශනාව පෙන්වා දෙයි.' පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

3. (i) බුදු දහමට අනුව සියලු ධර්මයන් බෙදෙන ප්‍රධාන කොටස් දෙක දක්වා ඒවා කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*

(ii) පාලි පාඨයක් මගින් සංස්කාරයන්ගේ ස්වභාවය පැහැදිලි කර, එම සංස්කාර ගණයට ඇතුළත් කර ගත හැකි හා නොහැකි දේ කවරේ ද'යි පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(iii) පරිපූර්ණ මිනිස් ජීවිතයක් ඇති කර ගැනීමට ඉච්ඡා භංගත්වය (කැමැති දේ නොලැබීම) බාධාවක් දැයි පෙන්වා දෙන්න. *(ලකුණු 08 යි)*

4. (i) සජීවී-අජීවී ලෝකයේ විවිධාකාර ක්‍රියාකාරීත්වයන් ඇතිවන්නේ කෙසේ දැයි ඉදිරිපත් කළ බුද්ධ කාලීන මතවාද හතරක් දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) හේතු බාහුල්‍යයෙන්, ඵල බාහුල්‍යයක් හටගන්නා බව පෙන්නුම් කරමින් බුදුන් වහන්සේ ඉදිරිපත් කළ බෞද්ධ න්‍යායයේ නම ලියා එයට අදාළ කර ගත හැකි පරියාය නාම දෙකක් ලියන්න. *(ලකුණු 06 යි)*

(iii) එම න්‍යාය පුද්ගලයා තුළ ආත්ම විශ්වාසය ඇති කොට ධනාත්මක චින්තනයට මග පෙන්නුම් කරන බව පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

5. (i) කර්මය හා කර්ම පථය අතර ඇති සම්බන්ධතාව පෙන්නුම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) කර්මය පුද්ගලයාට බලපාන ආකාරය අනුව ප්‍රභේද හතරකින් යුක්තය. එම ප්‍රභේද හතර නම් කර ඒවායින් දෙකක් කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 06 යි)*

(iii) 'දුකෙහි විවිධත්වය කර්මවල විවිධත්වය අනුව සිදුවන බව බුදුසමය ප්‍රකාශ කරයි.' පහදන්න. *(ලකුණු 08 යි)*

6. (i) බුදුදහමෙහි, පුද්ගලයා විසින් කරනු ලබන සචේතනික සියලුම ක්‍රියා ප්‍රභේද දෙකකට ඇතුළත් කර ඇත. එම ප්‍රභේද දෙක දක්වමින් කෙටියෙන් හඳුන්වන්න. *(ලකුණු 04 යි)*

(ii) එම ප්‍රභේද දෙකට ඇතුළත් ක්‍රියා විනිශ්චය කිරීම සඳහා ඉවහල් වන පරීක්ෂණ ක්‍රම තුනක් ධර්මයේ දැක්වේ. ඒවා නම් කර, ඒවායේ ස්වභාවයන් හඳුන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

(iii) ඉහත සඳහන් කළ පරීක්ෂණ මගින් පුද්ගලයාගේ ජීවිතයට සුරක්ෂිත බවක් ඇති වන්නේ දැයි පැහැදිලි කරන්න. *(ලකුණු 08 යි)*

7. (i) සතර සතිපට්ඨාන ධර්ම නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) 'සතිපට්ඨාන' යන්නෙහි අර්ථ විග්‍රහය ඉදිරිපත් කර, එම ධර්මයන් වැඩීමෙන් ලැබෙන අනුසස් හතරක් දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) 'ආශ්වාස හා ප්‍රශ්වාස මෙනෙහි කිරීම හා සතර ඉරියව් මනාව පැවැත්වීම භාවනාවක් පමණක් නොව මානසික හා ශාරීරික සුවතාවක් ලෙසින් ද අගය කළ හැකිය.' කරුණු ඉදිරිපත් කරන්න. *(ලකුණු 08 යි)*

[හතරවන පිටුව බලන්න.

8. (i) අප්පමඤ්ඤා සතර දක්වමින් එයට අදාළ වන භාවනාව නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) සවැදෑරුම් චරිතයන් හා එම චරිතයන්ට අදාළ භාවනා විධි දක්වන්න. *(ලකුණු 06 යි)*

(iii) චරිතයන්ට අදාළ භාවනා ක්‍රම දැක්වීම මගින් මානසික හා බුද්ධිමය පාලනයක් ඇති කර ගත හැකි ආකාරය පහදන්න. *(ලකුණු 08 යි)*

***